OL/2020/81/S-I, II





**81 | S | I, II**

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2020**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2020**
**General Certificate of Education (Ord. Level) Examination, 2020**

| | |
|---|---|
| **කෘෂි හා ආහාර තාක්ෂණය** | **I, II** |
| விவசாயமும் உணவுத் தொழினுட்பவியலும் | **I, II** |
| Agriculture and Food Technology | **I, II** |

**පැය තුනයි**
*மூன்று மணித்தியாலம்*
*Three hours*

| | | |
|---|---|---|
| **අමතර කියවීම් කාලය** | - | **මිනිත්තු 10 යි** |
| மேலதிக வாசிப்பு நேரம் | - | 10 நிமிடங்கள் |
| Additional Reading Time | - | 10 minutes |

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

## කෘෂි හා ආහාර තාක්ෂණය I

**සැලකිය යුතුයි:**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
(iii) **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
(iv) එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

---

1. ශ්‍රී ලංකාවේ කෘෂිකර්ම ක්ෂේත්‍රයට කළ මහඟු සේවය නිසා 'මින්නේරි දෙවියන්' ලෙස දේවත්වයෙන් සලකනු ලබන රජතුමා වන්නේ,
(1) මහා පරාක්‍රමබාහු ය. (2) මහසෙන් ය. (3) වසභ ය. (4) අග්බෝ ය.

2. පහත දැක්වෙන කාලගුණික පරාමිති මනිනු ලබන උපකරණ අතරින් සුළඟේ වේගය මැනීමට භාවිත කරන උපකරණය කුමක් ද?



(1) (2) (3) (4)

3. අඩු ආලෝක තීව්‍රතාවක් පවතින විට,
(1) බටු, මිරිස්, තක්කාලි ආදී බෝග හොඳින් ඵල දරයි.
(2) බිගෝනියා, පර්ණාංග ආදී විසිතුරු ශාක මනා ලෙස වර්ධනය වේ.
(3) ධාන්‍ය බෝගවල ප්‍රභාසංශ්ලේෂණ වේගය වැඩි වේ.
(4) අල බෝගවල, අල වර්ධනය වැඩි වේ.

4. යම් ප්‍රදේශයක පරිසරයට අදාළ තොරතුරු විස්තර කිරීමේ දී සඳහන් කළ හැකි සාධක කිහිපයක් පහත දැක්වේ.
A - උච්චත්වය
B - වන ගහනය
C - පස් කාණ්ඩය
මේ අතරින් පරිසර උෂ්ණත්වය කෙරෙහි බලපාන සාධක වනුයේ,
(1) A හා B පමණි. (2) A හා C පමණි. (3) B හා C පමණි. (4) A, B හා C සියල්ලම ය.

[දෙවැනි පිටුව බලන්න.

5. පසෙහි තෙතමනය බෝග වර්ධනය සඳහා අත්‍යාවශ්‍ය වේ. බෝග වගාවේ දී වඩාත් උචිත පාංශු තෙතමන මට්ටම වනුයේ,
(1) සංතෘප්ත මට්ටම ය. (2) ක්ෂේත්‍ර ධාරිතාව ය.
(3) තාවකාලික මැලවීමේ අවස්ථාව ය. (4) ස්ථිර මැලවීමේ අවස්ථාව ය.

6. රූපසටහනෙහි දැක්වෙන දර්ශීය පාංශු පැතිකඩ සම්බන්ධයෙන් වන නිවැරදි ප්‍රකාශය කුමක් ද?
(1) $O$ කලාපය පැහැදිලිව දැකිය හැක්කේ නිතර බෝග වගා කරනු ලබන පසක ය.
(2) දර්ශීය පාංශු පැතිකඩක් නිර්මාණය වීමට කෘෂිකාර්මික ක්‍රියාකාරකම් ඉවහල් වේ.
(3) $A$ කලාපයේ පස $B$ කලාපයේ පස හා සැසඳීමේ දී වඩා කළු පැහැයට හුරු ය.
(4) $A$, $B$, $C$ හා $R$ කලාපවල උස, පාංශු ගැඹුර ලෙස හැඳින්වේ.




7. විවිධ ස්ථානවලින් ලබාගත්, වාතයේ වියළන ලද පස් නියැදි හතරක් යොදා ගනිමින් ශිෂ්‍යයකු විසින් සකස් කරන ලද ඇටවුමක් රූපයෙහි දැක්වේ. පතුල සිදුරු කරන ලද විනිවිද පෙනෙන භාජනවලට රූපයේ දැක්වෙන පරිදි එක සමාන මට්ටමකට පස් නියැදි පුරවා නොගැඹුරු ජල භාජනයක තබා ඇත.
(තද වර්ණයෙන් දැක්වෙන්නේ පැයකට පසුව පස් මගින් ජලය උරාගෙන ඇති ආකාරය වේ.)




ඉහත රූපය අනුව මැටි වැඩිම ප්‍රමාණයක් සහිත පස් අඩංගු වන බඳුන වන්නේ,
(1) $A$ ය. (2) $B$ ය. (3) $C$ ය. (4) $D$ ය.

8. ආම්ලික පසක් බෝග වගාව සඳහා සුදුසු තත්ත්වයට පත් කිරීමට යෙදිය යුතු වන්නේ,
(1) කාබනික ද්‍රව්‍ය ය. (2) ජිප්සම් ය. (3) ගෙන්දගම් ය. (4) කැල්සියම් කාබනේට් ය.

9. ෆැබේසියේ කුලයට අයත් බෝග **පමණක්** අඩංගු වන වරණය කුමක් ද?
(1) මෑ, කව්පී හා දඹල (2) වට්ටක්කා, බණ්ඩක්කා හා බෝංචි
(3) බතල, දඹල හා කරවිල (4) කුරක්කන්, අර්තාපල් හා මිරිස්

10. මූලික බිම් සැකසීමේ දී මෙන් ම අතුරුයත් ගෑමේ දී ද භාවිත කළ හැකි උපකරණයකි,
(1) හැඩ ලෑලි නගුල. (2) උදැල්ල.
(3) අත් මුල්ලුව. (4) ජපන් රොටරි වීඩරය.

11. වැටි හා කාණු පාත්තිවල සිටුවීමට නිර්දේශිත බෝගය තෝරන්න.
(1) කැරට් (2) මිරිස් (3) බණ්ඩක්කා (4) රටකජු

12. එළවළු තවාන් පාත්ති සඳහා නිර්දේශිත, 1:1 අනුපාතයට සාදනු ලබන තවාන් මිශ්‍රණයේ අඩංගු කළ යුතු සංඝටක වනුයේ,
(1) මතුපිට පස් සහ කොම්පෝස්ට් ය. (2) කොහුබත් සහ මතුපිට පස් ය.
(3) දහයියා සහ කොහුබත් ය. (4) අමු ගොම සහ මතුපිට පස් ය.

13. පොහොර ජලයෙහි දිය කර බෝගවලට යෙදිය හැකි වඩාත් කාර්යක්ෂම ජල සම්පාදන ක්‍රමය කුමක් ද?
(1) පිටාර ජල සම්පාදනය (2) වළලු ජල සම්පාදනය
(3) බිංදු ජල සම්පාදනය (4) තීරු ජල සම්පාදනය

**14.** වගා භූමිවල ඇති අතිරික්ත ජලය බැහැර කිරීම මගින්,
(1) පසේ වාතනය දියුණු වේ. (2) නිර්වායු ජීවී ගහනය වැඩි වේ.
(3) කෘෂි උපකරණ භාවිතය අපහසු වේ. (4) ශාක මුල් ආශ්‍රිත දිලීර රෝග වැළඳීම වැඩි වේ.

**15.** බෝග වගාවේ දී කොළ පොහොර ලෙස යොදා ගැනීමට වඩාත් සුදුසු ශාකය වන්නේ,
(1) සැල්වීනියා ය. (2) ග්ලිරිසීඩියා ය.
(3) ගිනි තෘණ ය. (4) ජපන් ජබර ය.

**16.** ශාකවලට අවශ්‍ය මහා පෝෂක පිළිබඳ **අසත්‍ය** ප්‍රකාශය තෝරන්න.
(1) ශාක කාබන් ලබාගනුයේ වායුගෝලයෙනි.
(2) ශාක පොස්පරස් හා පොටෑසියම් ලබාගනුයේ පසෙනි.
(3) ශාකවලට මැග්නීසියම් සැපයීමට එප්පාවල ඇපටයිට් යෙදිය හැකි ය.
(4) රනිල ශාක පාංශු වාතයේ ඇති නයිට්‍රජන් මගින් ද තම නයිට්‍රජන් අවශ්‍යතාව සපුරා ගනියි.

**17.** රසායනික පොහොර පිළිබඳ ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ.
A - ශ්‍රී ලංකාවේ තෙත් කලාපයේ බෝග සඳහා ඇමෝනියම් සල්ෆේට් යෙදීම නිර්දේශ කරනු ලැබේ.
B - බෝගවලට, වෙළෙඳපොළෙහි ඇති පොහොර මිශ්‍රණ යොදනවාට වඩා අමිශ්‍ර පොහොර මිලට ගෙන අවශ්‍ය පරිදි මිශ්‍ර කර යෙදීම වඩාත් වාසිදායක ය.
C - මියුරියේට් ඔෆ් පොටෑෂ් රතු දුඹුරු පැහැති ස්ඵටික ලෙස පවතියි.
මේ අතරින් නිවැරදි ප්‍රකාශ වන්නේ,
(1) A හා B පමණි. (2) A හා C පමණි. (3) B හා C පමණි. (4) A, B හා C සියල්ලම ය.

**18.** බෝග වගාවේ දී පූර්ව නිර්ගමන වල් පැළෑටි නාශක යොදනුයේ,
(1) ක්ෂේත්‍රයේ වල් පැළෑටි බීජ ප්‍රරෝහණය වීමට පෙර, පසට ය.
(2) බෝගයේ බීජ සිටුවන අවස්ථාවේ දී පසට ය.
(3) වර්ධනය වන වල් පැළෑටි පත්‍ර මතට ය.
(4) වල් පැළෑටිවල බීජ නිපදවීමට පෙර ඒවායේ පත්‍ර මතට ය.

**19.** ශාකයකට වයිරස් රෝගයක් වැළඳී ඇතැයි අනුමාන කළ හැකි පොදු රෝග ලක්ෂණය/ලක්ෂණ වනුයේ,
(1) මුල් කුණු වී ශාකය මැල වී පත්‍ර හැලී යාමයි.
(2) පත්‍ර මත පිටි තැවරුණු ස්වභාවයක් ගැනීමයි.
(3) මුල්වල හෝ කඳන්වල හෝ ගැටිති ඇති වීමයි.
(4) පත්‍රවල නාරටි බෙරී, ලා කොළ හා කහ පැහැති ලප ඇති වීමයි.

**20.** පළිබෝධ කෘමියා, හානි කරනු ලබන බෝගය හා හානි කරන ශාක කොටස නිවැරදිව සඳහන් කර ඇති පේළිය කුමක් ද?

| | පළිබෝධ කෘමියා | හානි කරනු ලබන බෝගය | හානි කරනු ලබන ශාක කොටස |
|---|---|---|---|
| (1) | ඉල්මැස්සා | පතෝල | ඵල |
| (2) | එපිලැක්නා කුරුමිණියා | බණ්ඩක්කා | ඵල |
| (3) | අවුලකපෝරා කුරුමිණියා | තක්කාලි | පත්‍ර |
| (4) | කුඩිත්තා | වී | පත්‍ර |

**21.** ශ්‍රී ලංකාවේ දී අභිජනනය කර වගා කිරීම සඳහා හඳුන්වා දුන් පළමු දෙමුහුම් වී ප්‍රභේදය වනුයේ,
(1) H4 ය. (2) Bg 379 - 2 ය. (3) PTB 16 ය. (4) Bw 351 ය.

**22.** සහතික කළ බිත්තර වීවල තිබිය යුතු නිවැරදි ප්‍රමිතිය ඇතුළත් පේළිය කුමක් ද?

| | ප්‍රවේණික පාරිශුද්ධතාව | වී ග්‍රෑම් 500ක තිබිය හැකි උපරිම වල් බීජ ගණන | අවම ප්‍රරෝහණ ප්‍රතිශතය | උපරිම තෙතමන ප්‍රතිශතය |
|---|---|---|---|---|
| (1) | 80% | 25 | 75% | 11% |
| (2) | 90% | 10 | 80% | 12% |
| (3) | 98% | 05 | 85% | 13% |
| (4) | 100% | 02 | 90% | 14% |

23. රූපසටහනෙහි දැක්වෙන්නේ වී බීජ 50ක් යොදාගනිමින් රැග්ඩෝල් ක්‍රමයට ප්‍රරෝහණ ප්‍රතිශතය සෙවීම පිණිස කරන ලද පරීක්ෂණයක් අවසානයේ ලද නිරීක්ෂණ වේ. ඒ අනුව මෙම බීජවල ප්‍රරෝහණ ප්‍රතිශතය,

(1) 30% කි.
(2) 50% කි.
(3) 65% කි.
(4) 75% කි.

බීජ සහිත රෙදි කැබැල්ල



24. තවාන්කරුවෙක් දඬු කැබලි කිහිපයක් සිටුවීමට පෙර, ඒවායේ කැපූ පහළ කෙළවර ජලයේ ගිල්වා කැපුම් පෘෂ්ඨවල සුදු පැහැති කුඩු විශේෂයක් තැවරුවේ ය. මෙම සුදු කුඩු විශේෂයේ අඩංගු විය හැක්කේ,
(1) කැල්සියම් කාබනේට් ය. (2) පොටෑසියම් පර්මැංගනේට් ය.
(3) ඉන්ඩෝල් ඇසිටික් අම්ලය ය. (4) කැල්සියම් සල්ෆේට් ය.

25. ශාක අංකුර බද්ධ කිරීමේ දී බද්ධ සන්ධිය පොලිතින් පටියකින් වෙළනු ලැබේ. මෙහි අරමුණ වන්නේ,
(1) අනුජය සුළඟින් ආරක්ෂා කිරීම ය.
(2) අනුජය සූර්යාලෝකයෙන් ආරක්ෂා කිරීම ය.
(3) බද්ධ සන්ධියට සිදුවිය හැකි කෘමි හානි වැළැක්වීම ය.
(4) අනුජයේ හා ග්‍රාහකයේ කැම්බියම එකිනෙක හොඳින් ස්පර්ශ කිරීම ය.

26. ගොවි මහතෙක් පාලිත තත්ත්ව යටතේ බෝග වගා කිරීමට අදහස් කරයි. ඒ සඳහා ඔහුට යොදාගත හැකි ස්ථිර ආරක්ෂිත වගා ව්‍යුහයක් වනුයේ,
(1) සරල සූර්ය ප්‍රචාරක ය. (2) ඒකීය සූර්ය ප්‍රචාරක ය.
(3) හරිතාගාර ය. (4) පාත්ති ආවරණ ය.

27. ශ්‍රී ලංකාවේ පහතරට ප්‍රදේශවල පොලිතින් ගෘහ තුළ උෂ්ණත්වය වැඩි වීම පාලනය සඳහා යොදාගත හැකි බවට ශිෂ්‍යයකු විසින් යෝජනා කරන ලද උපක්‍රම කිහිපයක් පහත දැක්වේ.
A - ගෘහයේ බිත්තිවලට පිටවුම් පංකා සවි කිරීම
B - ගෘහය තුළ මීදුමක් ආකාරයෙන් ජලය ඉසීම
C - ගෘහයේ වහල, මට්ටම් දෙකකට සැකසීම
D - ගෘහයේ පැති පොලිතින්වලින් ආවරණය කිරීම
මේවායින් නිවැරදි උපක්‍රම වන්නේ,
(1) A, B හා C පමණි. (2) A, B හා D පමණි.
(3) A, C හා D පමණි. (4) B, C හා D පමණි.

28. සිව් බෝගමාරු වගාවක් සඳහා වඩාත් සුදුසු බෝග දක්වා ඇති වරණය කුමක් ද?
(1) වී, කුරක්කන්, කව්පී, කිරි අල (2) බඩඉරිඟු, බෝංචි, බතල, තක්කාලි
(3) මිරිස්, තක්කාලි, කිරි අල, මඤ්ඤොක්කා (4) අර්තාපල්, බෝංචි, රාබු, පතෝල

29. අස්වනු නෙළීමට ආසන්න දිනවල දී ලැබෙන අධික වර්ෂාපතනය අස්වනුවල ගුණාත්මයට බලපාන ආකාරය පිළිබඳ ප්‍රකාශ කිහිපයක් පහත දැක්වේ.
A - දුර්වර්ණ වීම නිසා වී අස්වනුවල වෙළෙඳපොළ අගය අඩු විය හැකි ය.
B - පලතුරුවල රසය වැඩි වේ.
C - එළවලු හා පලතුරු පහසුවෙන් යාන්ත්‍රික හානිවලට පාත්‍ර වේ.
මේවායින් නිවැරදි ප්‍රකාශ වනුයේ,
(1) A හා B පමණි. (2) A හා C පමණි. (3) B හා C පමණි. (4) A, B හා C සියල්ලම ය.

30. නියමිත මේරීමේ අවස්ථාවේ දී අස්වනු නෙළීමට ප්‍රමාද වුවහොත් තන්තුමය ස්වභාවය වැඩි වීම නිසා පරිභෝජනයට ගත **නොහැකි** වන බෝග අස්වනු මොනවා ද?
(1) මුං හා කව්පී (2) අඹ හා තක්කාලි
(3) බණ්ඩක්කා හා වැටකොළු (4) පැපොල් හා කෙසෙල්

[පස්වැනි පිටුව බලන්න.

**31.** මානව පෝෂණයේ දී කාබෝහයිඩ්‍රේට් ආහාර ප්‍රධාන වශයෙන් අවශ්‍ය වනුයේ පහත ක්‍රියාවලි අතරින් කුමක් සඳහා ද?
(1) ළමුන්ගේ ශරීර වර්ධනය වීම
(2) එදිනෙදා කටයුතුවලට අවශ්‍ය ශක්තිය ලබා ගැනීම
(3) විවිධ රෝගවලින් ශරීරය ආරක්ෂා කර ගැනීම
(4) ගෙවී ගිය ශරීර පටක යථා තත්ත්වයට පත් කිරීම

**32.** ආහාර පරිරක්ෂණය පිළිබඳව **අසත්‍ය** ප්‍රකාශය කුමක් ද?
(1) එළවළු බ්ලාන්චීකරණයේ දී ඒවායේ අඩංගු එන්සයිම අක්‍රිය වේ.
(2) යෝගට් සහ මුදවාපු කිරි ලෙස, කිරි පරිරක්ෂණය කරනුයේ ලැක්ටික් අම්ල පැසවීමෙනි.
(3) ආහාරවලට රසායනික පරිරක්ෂක ද්‍රව්‍ය නියමිත මාත්‍රාවට වඩා එකතු කිරීම මිනිස් සිරුරට අහිතකර වේ.
(4) ජීවාණුහරිත කිරි බෝතලයක් පළමු වරට විවෘත කළ පසු සතියක් පමණ කාමර උෂ්ණත්වයේ නරක් නොවී තබා ගත හැකි ය.

**33.** පරිරක්ෂිත ආහාර වර්ගය සහ ඊට අදාළ පරිරක්ෂණ ක්‍රමය නිවැරදිව දැක්වෙන පේළිය කුමක් ද?

| | පරිරක්ෂිත ආහාරය | පරිරක්ෂණ ක්‍රමය |
|---|---|---|
| (1) | කරවල | සාන්ද්‍රීකරණය |
| (2) | ලුණු දෙහි | පැසවීම |
| (3) | පලතුරු ජෑම් | පැස්ටරීකරණය |
| (4) | කිරිපිටි | විසිරි වියළීම |

**34.** එක්තරා ගොවිපළක කුකුළු පැටවුන්ගේ ගුද මාර්ගය අවට සුදු පැහැති මල ද්‍රව්‍ය තැවරී තිබුණු අතර සුදු පැහැති පාචනය ද දක්නට ලැබුණි. මෙම රෝගය විය හැක්කේ,
(1) පුල්ලෝරම් ය. (2) කොක්සිඩියෝසිස් ය.
(3) ගම්බෝරෝ ය. (4) රැනිකට් ය.

**35.** ඝන ආස්තරණ ක්‍රමයට කුකුළන් ඇති කිරීමේ දී, ආස්තරණය ලෙස යොදා ගැනීමට සුදුසු ද්‍රව්‍යයක් වනුයේ,
(1) වියළා ගත් පොල් කුඩු ය. (2) රළු වැලි ය.
(3) දහයියා ය. (4) කොහුබත් ය.

**36.** ශ්‍රී ලංකාවේ ගව පාලන කලාප අතරින් ජර්සි, අයර්ෂයර් හා ෆ්‍රීෂියන් යන ගව වර්ග ඇති කිරීමට වඩාත්ම යෝග්‍ය කලාපය නම්,
(1) පොල් ත්‍රිකෝණයයි. (2) යාපනය අර්ධද්වීපයයි.
(3) පහතරට තෙත් කලාපයයි. (4) උඩරට කලාපයයි.

**37.** ගවයින් පෝෂණය කිරීමේ දී ලබා දිය හැකි දළ ආහාරයක් වන්නේ,
(1) පොල් පුන්නක්කු ය. (2) හාල් නිවුඩු ය. (3) සයිලේජ් ය. (4) සෝයා අන්නය ය.

**38.** පහත සඳහන් ප්‍රකාශ අතරින් නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) සින්දි සහ සහිවාල් යන ගව වර්ග යුරෝපීය ගව වර්ග වේ.
(2) දළ තන්තු 25% කට වඩා අඩු සත්ත්ව ආහාර සාන්ද්‍ර ආහාර ලෙස හැඳින්වේ.
(3) බ්‍රොයිලර් කුකුළු පැටවුන් මිලට ගැනීමේ දී, ලිංග නිර්ණය කරන ලද පැටවුන් තෝරාගත යුතු ය.
(4) උසස් කිරි නිෂ්පාදන හැකියා සහිත ගව වර්ග ඇති කිරීමට සුදුසු දේශගුණික කලාප ශ්‍රී ලංකාව තුළ පවතියි.

**39.** ආහාරයක ඉන්ද්‍රීය ගෝචරතාව ඇගයීමේ පරීක්ෂණයක දී යොදාගනු ලබන ඉන්ද්‍රීය ගෝචර ලක්ෂණ නම්,
(1) පෙනුම, රසය, ගන්ධය හා වයනය වේ.
(2) පැහැය, වයනය, මිල හා කල් ඉකුත් වීමේ දිනය වේ.
(3) පෙනුම, රසය, වර්ණය හා මිල වේ.
(4) පැහැය, පෝෂණ ගුණය, ගන්ධය හා නිෂ්පාදිත දිනය වේ.

**40.** හරිත විප්ලවය සමයේ දී ශ්‍රී ලංකාවට හඳුන්වා දුන් ඇතැම් කෘෂිකාර්මික සංවර්ධන ක්‍රියාමාර්ග, වර්තමානය වන විට මිනිසාගේ සෞඛ්‍යයට තර්ජනයක් වී ඇත. එවැනි එක් ක්‍රියාමාර්ගයක් වන්නේ,
(1) ඉහළ අස්වනු සහිත බෝග ප්‍රභේද හඳුන්වා දීම ය.
(2) නව කෘෂි යන්ත්‍රෝපකරණ හඳුන්වා දීම ය.
(3) අවුරුද්දේ කන්න දෙකම වගා කිරීම ය.
(4) පළිබෝධ නාශක හඳුන්වා දීම ය.

* *

[හයවැනි පිටුව බලන්න.

**81 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2020
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2020
General Certificate of Education (Ord. Level) Examination, 2020

කෘෂි හා ආහාර තාක්ෂණය I, II
விவசாயமும் உணவுத் தொழினுட்பவியலும் I, II
Agriculture and Food Technology I, II

## කෘෂි හා ආහාර තාක්ෂණය II

※ **පළමුවන** ප්‍රශ්නය හා තෝරාගත් තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළුව ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

1. වර්තමානයේ බොහෝ ශ්‍රී ලාංකිකයෝ තම ගෙවතුවල ආහාර බෝග වගා කිරීමට යොමු වී සිටිති.

(i) පහත දැක්වෙන බෝග වගා කිරීම පිණිස සපයාගත යුතු රෝපණ ද්‍රව්‍ය වෙන වෙන ම නම් කරන්න.

(a) තම්පලා (*Amaranthus*) (b) කහ
(c) ගොටුකොළ (*Centella asiatica*) (d) බතල

(ii) ගෙවතු වගාවේ දී,

(a) බීජ තවාන් දමා ලබා ගන්නා පැළ ක්ෂේත්‍රයේ සිටුවන බෝග වර්ග **දෙකක්** සඳහන් කරන්න.

(b) බීජ තවාන් නොදමා කෙළින්ම ක්ෂේත්‍රයේ සිටුවන බෝග වර්ග **දෙකක්** සඳහන් කරන්න.

(iii) බෝග සංස්ථාපනයේ දී පැළ අතර නිර්දේශිත පරතර පවත්වා ගැනීමේ වාසි **දෙකක්** ලියන්න.

(iv) (a) ගෙවත්තක කෙසෙල් වගා කිරීමේ දී සැකසිය යුතු වළෙහි නිර්දේශිත දිග, පළල හා ගැඹුර පිළිවෙළින් සඳහන් කරන්න.

(b) කෙසෙල් වගාවක ඇතැම් කෙසෙල් පැළවල වර්ධනය බාල වී, කුරු වී, පත්‍ර සෙව්වන්දියක් ලෙස දක්නට ලැබුණි. මෙම රෝගය නම් කරන්න.

(v) බෝග වගාවේ දී පාංශු ජීවීන් මගින් සිදුවන හිතකර බලපෑම් **දෙකක්** ලියන්න.

(vi) බෝගවල දක්නට ලැබෙන නයිට්‍රජන් ඌනතා ලක්ෂණ **දෙකක්** ලියන්න.

(vii) ගෙවතුවල සුලබව දක්නට ලැබෙන භූගත කඳන් සහිත වල් පැළෑටි වර්ග **දෙකක්** ලියන්න.

(viii) වර්තමානයේ ශ්‍රී ලංකාවේ වගා කරනු ලබන

(a) වැවිලි බෝග **දෙකක්** සඳහන් කරන්න.
(b) අපනයන ආර්ථික බෝග (අපනයන කෘෂිකර්ම බෝග) **දෙකක්** සඳහන් කරන්න.

(ix) ගව ගාල හා ගව දෙනුන් පවිත්‍රව තබා නොගැනීම නිසා ගව දෙනුන්ට වැළඳිය හැකි රෝග **දෙකක්** ලියන්න.

(x) එළවලු හා පලතුරු බෝග අස්වනු පරිරක්ෂණය කර ගත හැකි ක්‍රම **දෙකක්** සඳහන් කර එම එක් එක් ක්‍රමය සඳහා **එක්** උදාහරණයක් බැගින් ලියන්න.

**2.** වර්ෂාපතන ප්‍රමාණය මෙන් ම ව්‍යාප්තිය ද සැලකිල්ලට ගෙන ශ්‍රී ලංකාව ප්‍රධාන දේශගුණික කලාප තුනකට බෙදා ඇති ආකාරය රූපයෙහි දක්වා ඇත.




(i) (a) A, B හා C යන කලාප පිළිවෙළින් නම් කරන්න.

(b) පහත දැක්වෙන එක් එක් දේශගුණික කලාපයේ බහුලව පැතිරී ඇති පස් කාණ්ඩය වෙන් වෙන්ව ලියන්න.

A කලාපය

C කලාපය

(ii) (a) වර්ෂාපතනය මනිනු ලබන ඒකකය සඳහන් කරන්න.

(b) වර්ෂාමානයක් ඊට අදාළ මිනුම් ලබා ගැනීම සඳහා ස්ථානගත කිරීමේ දී සැලකිල්ලට ගත යුතු කරුණු **දෙකක්** ලියන්න.

(iii) වර්ෂාපතනය නිසා සිදුවන පාංශු ඛාදනය පාලනය කිරීමට බෝග වගාවේ දී ගත හැකි ක්‍රියාමාර්ග **තුනක්** ලියන්න.

**3.** වර්තමානයේ බොහෝ පිරිසක් ගෙවතු වගාවට යොමු වී සිටින බැවින් තවාන් පැළ නිෂ්පාදනය කර අලෙවි කිරීම ලාභ ඉපැයිය හැකි කෘෂි ව්‍යවසායයකි.

(i) (a) තවාන් පාත්තිවලට කාබනික පොහොර යෙදීමේ වාසි **දෙකක්** ලියන්න.

(b) තවාන් පාත්ති ජීවානුහරණය කරන ක්‍රම **දෙකක්** සඳහන් කරන්න.

(ii) (a) තවාන් පාත්තියකට වසුනක් යෙදීමෙන් අත්වන වාසි **දෙකක්** ලියන්න.

(b) තවාන් පාත්ති මතට වසුන් ලෙස යොදාගත හැකි ද්‍රව්‍ය **දෙකක්** සඳහන් කරන්න.

(iii) (a) තවාන් පැළ ගැලවීමේ දී හා ක්ෂේත්‍රයේ සිටුවීමේ දී අනුගමනය කළ යුතු වැදගත් ක්‍රියාකාරකම් **දෙකක්** සඳහන් කරන්න.

(b) එළවලු තවාන් පැළවලට බහුලව වැළඳෙන රෝගයක් නම් කර, ඊට හේතු වන රෝගකාරක ජීවී කාණ්ඩය සඳහන් කරන්න.

**4.** බෝග වගාවේ දී ගොවීන්ට මුහුණ පෑමට සිදුවන එක් ප්‍රධාන ගැටලුවක් ලෙස පළිබෝධ හානි හැඳින්විය හැකි ය.



(i) ඉහත රූපයේ දැක්වෙන කෘමියා වම්බටු ශාක පත්‍ර මත නිතර දක්නට ලැබේ.

(a) මෙම කෘමියාගේ නම ලියන්න.

(b) මෙම කෘමියා වම්බටු වගාවට සිදු කරන හානිය කුමක් ද?

(ii) (a) පූර්ණ රූපාන්තරණය සහිත කෘමියකුගේ ජීවන චක්‍රයේ අවස්ථා මොනවා ද?

(b) කෘමි නාශක භාවිතයෙන් තොරව බෝග වගාවක කෘමි හානි අවම කිරීම සඳහා ගත හැකි ක්‍රියාමාර්ග **දෙකක්** සඳහන් කරන්න.

(iii) (a) රූපාකාරය අනුව වල් පැළෑටි වර්ග කර ඒවාට **එක්** නිදසුනක් බැගින් සපයන්න.

(b) බෝගවලට වැළඳෙන දිලීර රෝගවල පොදු ලක්ෂණ **දෙකක්** ලියන්න.

**5.** බෝග වගාවේ දී රෝපණ ද්‍රව්‍ය ලෙස බහුලව බීජ යොදා ගැනේ. මෙයට අමතරව වර්ධක ප්‍රචාරණ ක්‍රම ද භාවිතයට ගැනේ.

(i) (a) බීජ ප්‍රරෝහණය සඳහා අවශ්‍ය සාධක **හතරක්** සඳහන් කරන්න.

(b) බීජ සුප්තතාවට හේතු **හතරක්** සඳහන් කරන්න.

(ii) පොළොව මට්ටමට නැවිය **නොහැකි** ශාක අත්තක, අතු බැඳීම (ලේයර් කිරීම) සිදු කරන අයුරු නම් කළ රූපසටහනකින් දක්වන්න.

(iii) (a) වර්ධක ප්‍රචාරණ ක්‍රමයක් ලෙස පටක රෝපණයේ වාසි **තුනක්** සඳහන් කරන්න.

(b) වී ශාකයේ ප්‍රධාන වර්ධන අවධි **තුන** සඳහන් කරන්න.

**6.** මනා බෝග වර්ධනය සඳහා පසේ භෞතික හා රසායනික ලක්ෂණ, සාරවත් බව, තෙතමනය ආදිය වැදගත් වන අතර පසෙහි තද බව බෝග වගාවට අහිතකර ලෙස බලපායි.

(i) (a) පසෙහි තද බව නිසා බෝග වගාවට ඇතිවන අහිතකර බලපෑම් **හතරක්** ලියන්න.

(b) පස බුරුල් කර ගැනීම සඳහා යොදා ගැනීමට සුදුසු, යන්ත්‍ර බලයෙන් ක්‍රියා කරන බිම් සැකසීමේ උපකරණ **දෙකක්** නම් කරන්න.

(ii) බෝග සංස්ථාපනය කිරීම සඳහා සකසනු ලබන පාත්ති වර්ග **තුනක්** සඳහන් කරන්න.

(iii) (a) බෝගවලට පොහොර යෙදීමේ දී, පොහොර කාර්යක්ෂමතාව වැඩි කිරීම සඳහා ගත යුතු ක්‍රියාමාර්ග **හතරක්** ලියන්න.

(b) බෝග මාරුවේ දී රනිල බෝග යොදා ගැනීමෙන් ලැබෙන වාසිය කුමක් ද?

**7.** සත්ත්ව පාලනයේ දී සැලකිල්ලට ගත යුතු විවිධ සාධක අතරින් නියමිත අවස්ථාවේ දී ගව දෙනුන් ගැබ් ගැන්වීමත්, දිනක් වයසැති කුකුළු පැටවුන් පරිසරයට හැඩගැසෙන තෙක් බෲඩරයක් තුළ රැක බලා ගැනීමත් වැදගත් වේ.

(i) (a) ගව දෙනකගේ ගැබ් කාලය දින කීය ද?

(b) ගව දෙනකගේ මද ලක්ෂණ **හතරක්** සඳහන් කරන්න.

(c) ගව දෙනකගේ 'වියළි කාලය' යනුවෙන් හඳුන්වන්නේ කුමක් ද?

(ii) (a) ඉපදී පළමු සතිය තුළ කුකුළු පැටවුන්ට බෲඩරයේ දී සැපයිය යුතු උෂ්ණත්වය කොපමණ ද?

(b) උෂ්ණත්වය හැරුණු විට බෲඩර් කාලය තුළ කුකුළු පැටවුන්ට සපයා දිය යුතු වෙනත් අවශ්‍යතා **දෙකක්** සඳහන් කරන්න.

(iii) වැඩි උෂ්ණත්වයේ දී, අඩු උෂ්ණත්වයේ දී හා ප්‍රශස්ත උෂ්ණත්වයේ දී බෲඩරය තුළ කුකුළු පැටවුන්ගේ හැසිරීම වෙන් වෙන් වශයෙන් රූපසටහන් ඇසුරෙන් පෙන්වන්න.

***